# ඉතා පැරණි හෙළ අට්ට කතා
# සිංහලේ රාජ වංශය- ප්‍රාග් ඓතිහාසික යුගය
# ජනප්‍රවාද ශ්‍රැති

මූලාශ්‍ර : බෝධි වංසය - රාජාවලිය

**ප්‍රසම්පාදනය හා පූර්ණ ප්‍රකාශන අයිතිය**

**ශ්‍රී රාවණ වංශය පුස්තක සංරක්ෂණාගාරය සතුය**

**සංක්ෂිප්ත සංස්කරණය**

**අ.හෙට්ටිආරච්චි**

**පාලි / දේවනාගරි/අරාබි හා උරුදු භාෂා පරිවර්තක,**

**ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලයේ ව්‍යාපාර කළමණාකරන උපාධිධාරී , ඉතිහාස හා පුරාවිද්‍යා ගවේශක,**

**ශ්‍රී රාවණ වංශය ග්‍රන්ථ කේන්ද්‍රය හා පුස්තක සංරක්ෂණාගාරධිපති**

 - ISBN _ 9_781782_808_04

## සිංහලේ රාජ වංශය

සිංහල රාජ වංශය යුග කිහිපයකට බෙදා දැක්විය හැකිය.

1.මනු රාජ වංශය

මෙය පුරාණ දඹදිව පැවති රාජ වංශයක් බවට ඇතැම්හු මත පළ කරති.එහෙත් හෙළ හවුළ පවසන්නේමෙය ලක්දිව පැවති මුල්ම රාජ වංශය බවයි. කරුණු සලකා බැලීමේදී හෙළ හවුළේ අදහස වඩාත් විශ්වාස දායක වේ. මන්ද යත් ඓතිහාසික පුරාවෘත්තවලට අනුවත් ජන ඇදහිලි හා විශ්වාසයන් අනුවත් මනු රජවරුන් හෙළයේ රජ කළ බව විශ්වාස කළ හැකි බැවිනි.

මනු රාජ වංශයේ මුල්ම රජු මෙන්ම හෙලයේ පළමු රජු ලෙස සැලකෙන්නේ මහා සම්මත මනු රජතුමාය. ඔහුගේ පරපුරේ රජවරු 28ක් රජ කර ඇත. එම කොටස මෙසේය.



"මහා සම්මත නම් රජහු පිත් රෝජ නම් වීයැ.
රෝජයා පිත් වර රෝජ නම් වීයැ.
වර රෝජයා පිත් කල්‍යාණ නම් වීයැ.
වර කල්‍යාණයා පිත් උපෝසථ නම් වීයැ.
ඔහු පිත් කාම භෝගීනට අග්‍ර වූ මහා මන්දාතු නම් වීයැ.
මහා මන්දාතු නරපතිහු පිත් වර නම් වීයැ.
වරයා පිත් උපවර නම් වීයැ.
උපවරයා පිත් චේතිය නම් වීයැ.
ඔහු පිත් මුචල නම් වීයැ.
මුචලයා පිත් මහා මුචල නම් වීයැ.
ඔහු පිත් මුචලින්ද නම් වීයැ.
ඔහු පිත් සාගර නම් වීයැ.

සාගරයා පිත් සාගර නම්ම වීයැ.

ඔහු පිත් බරත නම් වීයැ.

බරතයා පිත් භගිරථ නම් වීයැ.

භගිරථයා පිත් රුචි නම් වීයැ.

ඔහු පිත් සුරුචි නම් වීයැ.

ඔහු පිත් ප්‍රතාප නම් වීයැ.

ඔහු පිත් මහා ප්‍රතාප නම් වීයැ.

ඔහු පිත් පණාද නම් වීයැ.

ඔහු පිත් පස් විසි යොදුන්රත්න ප්‍රවසාදයෙකු වූ සූ මහා පණාද නම් රජෙක් වීයැ.

ඔහු පිත් සුදර්ශන නම් වීයැ.

ඔහු පිත් සත්රුවන්මය වූ කුසාවතී නම් රාජධානියෙහි වුසූ මහා සුදර්ශන නම් චක්‍රවර්ති රජෙක් වියැ.

මහා සුදර්ශනයා පිත් නේරු නම් වීයැ.

ඔහු පිත් මහා නේරු නම් වීයැ.

ඔහු පිත් අර්චිශ්මත් නම් වියැ.

මේ මහා සම්මත රජහුගේ පුත්රා පෞත්‍ර පරම්පරාවෙන් ආවා වූ සසඛකායා යුෂ්ක රජ දරුවෝ අට විසි දෙනෙක්....

මේ අනුව මහා සම්මත මනු රජතුමාගේ පරපුරෙන් පැවත ආ රජවරු 28 දෙනා මෙසේය.

1 . මහා සම්මත මනු රජතුමා
2. රෝජ මනු රජතුමා
3. වර රෝජ මනු රජතුමා
4. කල්‍යාණ මනු රජතුමා
5. වර කල්‍යාණ මනු රජතුමා
6. උපෝසථ මනු රජකුමා
7. මහා මන්ධාතු මනු රජතුමා
8. වර මන්ධාතු මනු රජතුමා
9. චේතිය මනු රජතුමා
10. මූචල මනු රජතුමා
11. මහා මූචල මනු රජතුමා
12. මුචලින්ද මනු රජතුමා
13. සාගර මනු රජතුමා
14. දෙවන සාගර මනු රජතුමා
15. භරත මනු රජතුමා
16. භගිරථ මනු රජතුමා

17. රුචි මනු රජතුමා
18. සුරුචි මනු රජතුමා
19. ප්‍රතාප මනු රජතුමා
20. මහා ප්‍රතාප මනු රජතුමා
21. පණාද මනු රජතුමා
22. මහා පණාද මනු රජතුමා
23. සුදර්ශන මනු රජතුමා
24. මහා සුදර්ශන මනු රජතුමා
25. නෙරුප මනු රජතුමා
26. මහා නෙරුප මනු රජතුමා
27. අසිරිමත් මනු රජතුමා
28. (චේතිය මනු රජතුමාගේ පුතුන් පස් දෙනෙකු රජකම් කර ඇතත් බෝධි වංශයේ සඳහන් වන්නේ ඉන් මුවල, මහා මූවල, මුචලින්ද යන නම් පමනි. මුචලින්ද මනු රජුට පසුව රජ කල චේතිය රජුගේ පස්වන පුතු සමග රජවරු ගණන 28 කි.)

## මහා සම්මත මනු රජතුමා

මහා සම්මත යන්නෙහි අර්ථය ජන සම්මුතියෙන් තෝරා ගත් යන්නයි. දේශපාලන විද්‍යාවට අනුව රාජ්‍ය සංකල්පය බිහිවූ මුල් අවධියේ ජනතාව දමන්ට සුදුසු පාලකයෙකු පත් කර ගන්නා ලද්දේ සම්මුතියකට එළැඹීමෙනි. හෙළයේ ආදි ජනතාව තමන්ට සුදුසු පාලකයෙකු පත් කර ගැනීමේදි මහා සම්මත න්‍යාය අනුගමනය කර ඇතැයි සිතිය හැකිය. මහා සම්මත මනු රජු හෙළයේ මුල්ම පාලකයා ලෙස බිහි වන්නට ඇත්තේ ඒ අනුව වන්නට ඇත.

### මහා සම්මතයෙන් රජ නෙනෙකු පත් කර ගැනීමේ පුරාවෘත්තය

එකළ හෙළය හඳුන්වන ලද්දේ “වරදීප“ නමිනි. දේශයේ වැසියන්ට තමන් සඳහා නායකයෙකු පත් කර ගැනීමේ අවශ්‍යතාවයක් ඇතිවිය. ඒ සඳහා සුදුස්සෙක් තෝරා ගැනීමට ඉදිරිපත් වන්නැයි සඳහන් කරමින් රට පුරා අණබෙරයක් ද යවන ලදී. එම අනබෙරය මෙසේය.

සියලු අංගං සටන් දන්නා
සියලු කරදරවලින් හෙළය බේරා ගත හැකි
දහිරි බලයෙන් රාජ්‍යන කිරීමට හැකි
කෙනෙක් ඉන්නවනම් වරෙල්ලා....

අණ බෙරකරු මාතර ප්‍රදේශයට පැමිණියේය. එවෙලේ ගොවි තරුණයෙකු වූ මනු සිටියේ තම කුඹුරේ වැඩ කරමිනි. අනබෙරකරු නැවැත්වූ හෙතෙම මඩ සෝදාගෙන ගොඩට පැමිණියේ දැවැන්ත ලී කණුවක්ද ඔසවාගෙනය. එම ලී කනුව වරිග සභාව තෙක් ම ඔසවාගෙන ගිය මනු කණුව බිම සිටුවා ඒ මත නැගී තනි කකුළෙන් සිට ගත්තේය. අනතුරුව බිම සිටගෙන සිටින දුනුවායින් 16 ක් කැඳවා ඊතලවලින් විදින ලෙස නියෝග කළේය. දුනුවායෝ දහසය දෙනාම එකවර විදින ඊතලවලට මනු සිය කඩුවෙන් පහර දුන්නේ ඊතල කැපී නෙළුම් මල් ආකාරයෙන් බිම වැටෙන ආකාරයටය.

____මනු අංගම් සටනෙහි සූරයෙකුද විය. එම ස්ථානයට ඉදිරිපත්ව සිටි සියලු අංගම් සූරයන් පැරදවූ විට ජනතාව ඔහුව ස්වකීය රජතුමා ලෙස පත් කර ගත්හ.

ඉහත පුරාවෘත්තයට අනුව මනු පැමිණ ඇත්තේ මාතර ලෙස අද හැඳින්වෙන ප්‍රදේශයේ සිටය. එහෙත් යුරෝපීය විද්වතුන් වන රෝලින්සන්, කොන්ග්රිස්ටන් වැනි අය පවසන්නේ මොහු ලංකාවේ රජ කළ අයෙකු නොව උතුරු ඉන්දියාවේ රජ කළ අයෙකු බවයි. මෙම විද්වතුන් ස්වකීය මතය ගෙන හැර දැක්වීමට උත්සාහ දැරීමක් කර ඇතුවා මිස පෙරදිග පැවති ඓතිහාසික පුරාවෘත්තයන්, පුරාණ යතිවරුන්, ලේඛකයන්, ජන ඇදහිලි හා විශ්වාස ගැඹුරින් අධ්‍යනය කර ඇති බවක් නොපෙනෙයි. යුරෝපීය විද්වතුන්ගේ මතය අනුව මහා සම්මත මනු රජු ජීවත් වූ යුගය මීට වසර 30000 කට පෙර යුගයයි. එහෙත් මුනිදාස කුමාරතුංගයන් ප්‍රමුඛ හෙළ හවුළේ අදහස මෙම රජු විසූ යුගය මීට වසර 28000 කට ආසන්න යුගය බවයි.

## මහා සම්මත මනු රජුගේ අගනුවර

අරිසෙන් අහුබුදු ගුරුන් පවසන ආකාරයට මහා සම්මත මනු රජ සිය අගනුවර කරගෙන ඇත්තේ මන්නාරම ප්‍රදේශයයි. අහුබුදු

ශූරීන්එයට මනා ඉඟියක් ද සපයන්නේ මන්නාරම යන නම මෙම ප්‍රදේශයට ලැබී ඇති ආකාරයද විස්තර කරමිනි. එතුමාගේ අදහසට අනුව,

මනු-ආ-අරම යන වදනෙහි පූර්වාපර සන්ධි ගැළපීමෙන් මන්නාරම යන නම ලැබී ඇත.

එකළ මන්නාරම රට මැද තිබූ නගරයක් වන්නට ඇත. ඇමෙරිකාවේ නාසා ආයතනය මගින් චන්ද්‍රිකා ඡයාරූප ඔස්සේ කරන ලද පරීක්ෂණ වලදී ලංකාව එවකට මැඩගස්කරය,මාලදිවයින් ආදී රටවල්ද පිහිටි වපසරිය ඉක්මවා ගිය සුවිසල් රාජ්‍යයක් ව තිබෙන්නට ඇතැයි මත පළ කර ඇත.

මහා සම්මත මනු රජ අංගම්පොර ශූරයෙකු වීමෙන් පෙනී යන්නේ මෙම මහා සටන් ක්‍රමය මීට වසර 30000 කට පෙරද වඩාත් දියුණු තත්වයක පැවති බවයි. එමෙන්ම මෙම රජතුමා ගොවියෙක් ලෙස කටයුතු කර තිබේ. ඒ අනුව පුරාණ හෙලය කෘෂිකාර්මික ජීවන රටාව මත පදනම් වූ දේශීය ආර්ථික ක්‍රමයකින් පෝෂණය වී තිබෙන්නට ඇත.

ශ්‍රී හෙළයේ පුරාණ නර්තන ක්‍රමයක් ලෙස කෝළම් හැඳින්විය හැකිය. මෙය මහා සම්මත මනු රජ දවස උපත ලැබුවක් යැයි මතයක් පවතී.

මාගදි අක්ෂරයෙන් ආරම්භය

**මහා සම්මත නම් රජහු පිත් රෝජ නම් වී යැ. රෝජයා පිත් වර රෝජ නම් වී යැ. වරරෝජයා පිත් කල්යානණ නම් වී යැ. කල්යා ණයා පිත් වරකල්යාරණ වී යැ. වරකල්යා ණයා පිත් උපෝසත නම් වී යැ. ඔහු පිත් කාමභෝගිනට අග්රව වූ මහා මන්ධාතු නම් වී යැ. මහා මන්ධාතු නරපතිහු පිත් වර නම් වී යැ. වරයා පිත් උපවර නම් වී යැ. උපවරයා පිත් චේතිය නම් වී යැ. ඔහු පිත් මුචල නම් වී යැ. මුචලයා පිත් මහා මුචල නම් වී යැ. ඔහු පිත් මුචලින්ද නම් වී යැ. ඔහු පිත් සගර නම් වී යැ. සගරයා පිත් සාගර නම් වී යැ. ඔහු පිත් භරත නම් වී යැ. භරතයා පිත්**

භගීරථ නම් වී යැ. භගීරථයා පිත් රුචි නම් වී යැ. ඔහු පිත් සුරුචි නම් වී යැ. ඔහු පිත් ප්ර.තාප නම් වී යැ. ඔහු පිත් මහා ප්රපතාප නම් වී යැ. ඔහු පිත් පණාද නම් වී යැ. ඔහු පිත් පස් විසි යොදුන් රත්න ප්රාවසාදයෙකි වුසු මහා පණාද නම් රජෙක් වී යැ. ඔහු පිත් සුදර්ශන නම් වී යැ. ඔහු පිත් සත් රුවන්මය වූ කුසාවතී නම් රාජධානියෙහි වුසූ මහා සුදර්ශන නම් චක්ර වර්තී රජෙක් වී යැ. මහා සුදර්ශනයා පිත් නේරු නම් වී යැ. ඔහු පිත් මහා නේරු නමු වී යැ. ඔහු පිත් අර්චිෂ්මත් නම් වී. මේ මහාසම්මත රජුහු ගේ පුත්රා පෞත්ර පරම්පරාවෙන් ආවා වූ අසඞ්ඛ්යා යුෂ්ක රජදරුවෝ අටවිසි දෙනෙක්... "

සිව්හෙළේ පළමු රජු ලෙස හැඳින්වෙන මහාසම්මත මනු රජු අංගම් සටනේ ශූරයෙක් බවට ඉතිහාසය තතු කියයි. මහා සම්මතයෙන් රටට රජ කෙනෙක් තෝරන අවස්ථාවේ, මනු අන් සියල්ලන් පරදවා තම දස්කම් පෙන්වා මහජන මතයට අනුව රටේ කිරුළට හිමිකම් කියයි. අංගම්පොර ගැන පළමුව අසන්නට ලැබෙන්නේ මනු රජු ගැන සඳහන් විස්තර වලිනි.

යක්ෂ ගෝත්රිකයන් මුල් සමයේ උ යැපුනේ දඩයමෙනි. පසුව ඔවුන් ගෙන් කොටසක් ගොවිතැනට යොමුවිය. ඔවුන් හැඳින්වූයේ අසුර හෙවත් අස්වද්දන්නන් නමිනි.( දේව) නමින් හඳුන්වන්නේද ඔවුන්වමය. නාග යනු වෙළඳ හා වාරි ශල්පයේ නිරතු පිරිසකි. මෙම ගෝත්ර ත්රිත්වයේම ගමිනි නම් ගම් ප්රධානීන් එක්කර ඔවුන්ගේ මහා සම්මතයෙන් පාලකයෙක් පත්කර ගත්තේය. ඔහු සූර්ය වංශික මහාසම්මත මනු නමින් හඳුන්යි. මොහුගේ බිසව පෝරුමස්තකයේ දැගිලි බැද අතපැන් වක්කර විවාහ කරදුන් මැණික්පාලී බිසවයි. ඔහුගේ යටතේ රට ආරක්ෂා කිරීමට සුදුසු ශක්තිමත් හමුදාවක් තැනීය එය රක්ෂස හමුදාව නමින් හඳුන්වයි. එය ක්රමයෙන් දියුණු වී රක්ෂස ගෝත්රය බිහිවිය. මේ අනුව යක්ෂ, අසුර, රක්ෂස, නාග යන සිව්හෙළයේ පළමු රජා මනුවේ.

මානව පරිනාමයත් සමග ජනගහනය වැඩිවූ අතර නායකයෙකු නොමැතිකම නිසා ලංකා දිවයින තුල විවිධ ගැටළු උද්ගත විය. මේ හේත්වෙන් නායකයෙකු තෝරාගැනීම සඳහා රට පුරා අඬ බෙර යවනු ලැබීය. එය රට පුරා යක්ෂ ගෝත්‍රික පැරණි හෙළ බසින් යැවුණු අතර දවුල සම්බන්ධව පළමු සාක්ෂිය ද හමුවන්නේ මෙහිදී ය. මෙම අඬබෙරයට භාවිතා කොට ඇත්තේ දවුලයි.

## අනබෙරය

සා දිග් අංගන් සොන් දෙන්තා සා අව්යෙන් රස් සා හෙල්ලා දහිරෙන් බෙල්ලෙන් රණ් කිර් පවු තා තන් සන්දහ් වල්වවු

**සියලු අංගං සටන් දන්නා,**

**සියලු කරදරවලින් හෙලය බේරාගත හැකි,**

**දහිරියෙන් බලයෙන් රාජ්‍යන කිරීමට හැකි,**

**කෙනෙක් ඉන්නවානම් වරෙල්ලා..**

ඉහත අණබෙරයට සවන් දුන් රුහුණේ ගොවියෙක් වූ මනු නැමැත්තා මඩ සෝදාගෙන පැමිණ දැවැන්ත කණුවක් සිටුවා ඒ මත තනි කකුලෙන් සිටගෙන සිට බිම සිටින දුනුවායින් 16ක් හී තල වලින් විදින විට ඊතල කැපී නෙළුම් මලක හැඩයට බිමට වැටෙන ලෙස එම හීතලවලට කඩුවෙන් පහර දෙයි. මෙසේ දස්කම් දැක්වූ මහා සම්මත මනු නම් පළමුවෙන යක්ෂ ගෝත්‍රික රජු ලෙස බිහිවෙයි.මොහු බු.පු 27657 – 27603 යන කාළ වකවානුවල රජකම් කර ඇත.එ නම් වසර 54 ක් රජ කර ඇත. මහාවංශයේ මුල් පරිච්ඡේදයන්හි මනු පෙළපත සිදුහත් දක්වා දක්වා ඇත.

මනු රජු තමන්ගේ රාජධානිය විදිහට තෝරාගෙන තියෙන්නේ මන්නාරමයි (මනු+ආ+අරම=මන්නාරම). වසර ලක්ෂ ගණනක් පැරණි මානවයින්ගේ මිනීඇට සහිත බඳුන් වළලා තිබී හමු වූ ස්ථානයක් වන 'පොම්පරිප්පුව' මන්නාරමට ආසන්නව පිහිටා තිබීම වැනි සාධක නිසා මන්නාරම යනු ඓතිහාසික වශයෙන් වැදගත් ස්ථානයක් කියලා විශ්වාස කළ හැකියි. මේ පිළිබඳව "වර්ගපූර්ණිකාව" නම් පුස්කොල ග්‍රන්ථයේ ද සඳහන් වේ.

**මනු රාජවංශය**

මනු රජුයේ පුත් රෝජ නම් වන අතර වරරෝජ ආදී බලි, තරු, රාවන ආදී රජවරුන් ඉන් පසුව රජවී ඇත. දික්කඳ අට්ට කතාවේ සඳහන් වෙන ආකාරයට මනු රජුගෙන් ආරම්භ වෙන මනු රාජවංශය රජවරුන් 28 දෙනෙකුගෙන් සමන්විත වේ. ඒ රාජවංශය මෙසේයි.



1. මහා සම්මත මනු
2. රෝජ
3. වරරෝජ
4. කල්‍යාණ
5. වරකල්‍යාණ
6. උපෝසථ
7. මහා මන්දාතු
8. වරමන්දාතු
9. චේතිය

10. චේතියගේ පලමු පුත්‍රයා
11. චේතියගේ දෙවන පුත්‍රයා
12. චේතියගේ තෙවන පුත්‍රයා
13. චේතියගේ සිව්වන පුත්‍රයා
14. චේතියගේ පස්වන පුත්‍රයා
15. මහා මුචලින්ද
16. මුචලින්ද
17. පළමුවන සාගර
18. දෙවන සාගර
19. භරත
20. රුචි
21. සුරුචි
22. පතාප
23. මහා පතාප
24. පහද
25. සුදස්සි
26. නෙරුප
27. මහා නෙරුප
28. අසිරිමත්

බෞද්ධ සාහිත්‍ය තුළ ද සඳහන් වන ආකාරයට, මෙහි දැක්වෙන මහා මන්දාතු රජු සක්විති රජෙකු වේ. මේ රජවරුන් රජ කරන කාලයේදී

ලංකාවේ භූමිය මීට වඩා විශාල ප්‍රදේශයක පැතිරී තිබුණ අතර දකුණු ඉන්දියාව ද හෙළ අධිරාජ්‍යයේ කොටසක් ලෙස පාලනය වී ඇත. රාවණා නැමැති කුලයක් අදත් දකුණු ඉන්දියාවේ දක්නට ලැබීම, රාවණා ඇඳහිල්ල හා රාවණා විසින් නිර්මිත සිව තාන්ඩව ස්තෝත්‍රය ඉන්දියාවේ අදත් භාවිතා වීම වැනි සාධක එයට සාක්ෂි දරයි. මහා මන්දාතු රජුගෙන් පසුව දක්නට ලැබෙන ප්‍රබලම රජතුමා වන්නේ 'හිරණ්‍ය කාශ්‍යප' හෙවත් 'හිරණිය කසුබ්' රජුයි. ඇතැම් ඉතිහාසඥයන්ට අනුව හිරණ්‍ය කාශ්‍යප සහ මහා මන්දාතු යනු එකම රජකෙනෙකු ලෙසට ද මතයක් ඇත. නමුත් ඒ සම්බන්ධයෙන් නම් තරමක අපැහැසිදි තත්තවයක් පවතියි. රාජාවලියේ සඳහන් වෙන ආකාරයට මහා මන්දාතු රජුගෙන් පසුව රජ වෙන්නේ වරමන්දාතු රජතුමායි. නමුත් හිරණ්‍ය කාශ්‍යප රජුට පසුව රජ වන්නේ ඔහුගේ පුත් ප්‍රාලද කුමරු බවටද මතයක් පවතියි. ප්‍රාලද යනු වරමන්දාතු රජුම නම් මේ ගැටළුව විසඳෙනු ඇත.

මනු රජුගෙ බිසව වන මැණික්පාළි බිසවට සිය කුළුදුල් දරුවා ලැබෙන්නට ඉද්දි ඇතිවුණ දොළ දුකක් සංසිඳවන්න තමයි මුලින්ම කෝළම් නැටූ බව සඳහන් වේ. මැණික්පාළි බිසවට සිනාසෙන්න ඕන උනත් සිනා නොවී සිටිය බවත් මනු රජ්ජුරුවො රට පුරා අඬ බෙර ගහලා රටේම ඉන්න කවටයින් ගෙනත් දේවිය ඉස්සරහා විහිළු කෙරෙව්වත් බිසවට ඒ එකකටවත් හිනා ගියේ නැති බවත් අන්තිමේදී අම්බලන්ගොඩ ප්‍රදේශයෙන් පැමිණි පිරිසක් කදුරු ලීයෙන් කල වෙස් මුහුණු පැළඳ ගෙන කල කෝළමට දේවියට සිනා පහල උන බවත් කෝලම් ඉතිහාසයේ සඳහන් වේ. අදටත් කෝළම් වල විශේෂ තැනක් මහාසම්මත මනු රජුට හා මැණික්පාළි බිසවට ලැබෙන්නෙ ඒ අතීතය සිහිපත් කරන්නයි.

මූලාශ්‍ර කතාව:



අම්බලන්ගොඩ ප්‍රදේශයේ නැටුම් ශිල්පීන් පිරිසක් අණබෙර කරු නවතා වගකීම භාරගෙන රජ මාලිගාවට පැමිණියහ.මෙම පිරිස කදුරු ලීයෙන් කපන ලද වෙස් මුහුණු පැළඳ කරන ලදරංගනය නැරඹූ මැණික්පාලී බිසව මහ හඬ නගා සිනාසෙන්නට වූවාය. දේවිය සිනහා ගැන්විමට තරම් සමත් වූ මෙම නැටුම් විශේෂය එතැන් සිට කෝළම් ලෙස නම් ලැබූ බව පැරණි ජන ප්‍රවාදවල සඳහන්ය.

මේ අනුව මහා සම්මත මනු රජු දක්ෂ සටන් කරුවකු පමණක් නොව කලාවට හිතැති රසකාමියෙකු වූ බවද පෙනීයයි.

<u>*හිරණ්‍යක රජු*</u>

විශ්ණු පුරාණයේ මෙම රජු පිළිබඳව දැක්වේ. විෂ්ණුගේ දස අවතාරයන්ගෙන් එකක්වන නරසිංහ නම් අවතාරය විසින් මෙතුමාව මරා දමන්නේ යැයි එහි දැක්වේ. හිංදු සාහිත්‍යයේ මෙතෙම දක්වා ඇත්තේ විෂ්ණු ඇතුළු දේව විරෝධියෙකු ලෙසය.

කෙසේනමුත් රයිගම් කොරළයේ ප්‍රචලිත ජනප්‍රවාදයන්ට අනුව හිරාණ්, හිරණ් යක්, හිරණ්‍යක නමින් හැඳින්වෙන්නේ යක්ෂ ගෝත්‍රික බලවත් හෙළ රජෙකි. හිරණ්‍යමලය ඔහුගේ නිජ බිම ලෙස සැලකේ. හිරණ්‍යමලය නොහොත් හිරඤ්ඤමළය වත්මන් හොරණ ප්‍රෙද්ශයේ ඇල්ල කන්ද යැයි මතයක් පවතී. පියා රක්ෂස හෙළ ගෝත්‍රෙය් වික්‍රමාදිත්‍ය කස්සප වූ අතර මව හෙළ යක්ෂ ගොත්‍රෙය් දිතී නම් විය. ඔහුගේ නාමය හිරණ් විය. යක්ෂ ගෝත්‍රෙය් නිසා වංශ විංහය අනුව හිරණ්යක් විය. ඔහුගේ පියා වික්‍රමාදිත්‍ය කස්සප වූ නිසා මෙතෙම හිරණ්‍යකස්ස නම්වූ බව කියවේ. විෂ්ණු පුරාණයේ හා භාග්‍යවත පුරාණයේ විෂ්ණු අවතාර විසින් මරා දමන හිරණ්‍යක්ෂ හා හිරණ්‍ය කස්සප නමින් දෙදෙනෙක් දක්වා ඇත. ඔවුන් දෙදෙනා දෙසොයුරන් වී යැයි මත පවතී.

කෙසේනමුත් ඉන් ජේෂ්ඨයා වඩාත් උත්සාහවන්ත දක්ෂයකි. ජනප්‍රවාද අනුව හෙළ දීපයට පමනක් නොව වින්ධ්‍යා කඳුවැටිය දක්වා වන අධිරාජ්‍යක් ඔහු විසින් දඬුමොණර යානා භාවිතා කරමින් ගොඩ නන්වා

ඇත. ගුවන් සංචාරයන්ට මහත් ඇල්මක් දැක්වූ හෙතෙම රුමේනියාව හා තදාසන්න රටවල විසූ මිනිස් දිවියට තර්ජනයක් වූ මකරුන් මැරූ බව කියවේ. ඔහුගේ සෙනවියෙකු වන දානි යක්ෂ නොහොත් දානියක් විසින් උතුරේ හිම දියකර දානියක් නදිය නිර්මානය කළ ජනප්‍රවාදයක්ද ඇත.

මෙතුමා දේව මැවුම්වාදයට විරුද්ධ, දේව වන්දනය මිනිසා දෙවියන් ඉදිරියේ වැඳ වැටෙන යදින්නන් පිරිසක් බවට පත් කරන්නේ යැයි පවසා හිංදු දේව වංදනයට විරුද්ධවිය. මැවුම්වාදය මෙන්ම කුළ වාදයටද දැඩිව විරුද්ධ විය.

මොහුට මානස, හෝලිකා, චූලා හිරණ්‍යකස්සප, ආදිත්‍ය නමින් සහෝදර සහෝදරියෝ විය. හෝළිකා ඉංදු හෙළයේ පාලිකාව වූඅතර, මානස ටිබෙටයේ රජු විය. දානි සෙනවි දානියක් නමින් යුරෝපයේ රජ විය. මොවුන්ට දඬුමොණර යානා පහසුකම් පැවති නිසා පාලන කටයුතු පහසුවී ඇත. හෝලිකා ඉංදු හෙළයේ හෙළ බලය ඇති ප්‍රෙද්ශවල කුළබේදය හා දේව ඇදහිලි තහනම් කල ඇය අඩු කුළයේ මිනිසුන් අඳිනා සුදු ඇඳුම් පමනක් ඇඳීමට සියල්ලන්ටම නියෝග කර තමන්ද සුදු වස්ත්‍ර පමනක් අගලෑවේය.
මානස විසින් පසුව විලක්වූ ඓතිහාසික මානස වැව තැනීය. එමෙන්ම සිය සොයුරු හිරණ්‍යකගේ සහය ඇතිව ටිබෙට හිමාලයේ අඳුරු කඳු අතර සමකාලීන විද්වත් එක්රැස්කර ෂම්භාලා නම් අභිරහස් නුවරක් කරවීය. මෙහි අමරණීයව වෙසෙන විද්වතුන් අත තවමත් අතීත හෙළ විද්‍යාවන් සුරැකිව ඇතැයි කියවේ.

නාරද නම් බමුණාගේ කුමණ්ත්‍රණයකට අනුව හිරණ්‍යකගේ දෙටු පුත් ප්‍රර්භාලාද නොහොත් පණ්ඩු නම් කුමරාව යොදාගනී. කලින් කළ සැලසුමකට අනුව දෙවියන් පෙන්වීමට මාළිගාවේ කුළුනක් තුළ සිටින සාහසිකයෙක් විසින් ඝාතනය කරනු ලැබේ.

අනතුරුව දැඩි දේව භක්තික ප්‍රර්හලාද රජවන අතර ඉංදු හෙළයේ ආර්ය ප්‍රෙද්ශ ආක්‍රමනය නොකරන ලෙස දැනුම් දෙයි. එනතුරුව ඇගේ සේනා ශක්තිය ආපසු හෙළදිවට කැදවා අඩු කරයි. යුද්ධයකින් පැරදුණු හෝලිකාව ආර්ය විසින් බමුණන්ගේ උපදෙස් පිට පනපිටින් ගිනිතබා මරා දැමූ ඉව කියවේ. ඇගේ මරණය සැමරීමට හෝලි උත්සවය පවත්වයි.

හිරණ්‍යක රජුට ගරු කිරිමක් ලෙස කාශ්‍යප නමින් මුහුදක්ද (කැස්පියන් මුහුද), කස්සප මිහිර නොහොත් කාශ්මීරය නම්කළ බව කියවේ.

හිරණ්‍යකගෙන් පසුව ප්‍රර්හලාද රජවූ බව කියවේ. නමුත් මොහුගේ බමුණ ගැති පාලනය නොරිස්සූ හෙළයින් කතිකාකර ඔහුව බලයෙන් පහකර හිරණ්‍ය කස්සපයන්ගේ තවත් පුතෙකු වූ අනුරාධ රජකරවයි.

**හොලීකා**

ඒ වගේම හෝලිකා යනු හිරණ්‍යකස්සප නම් පැරණි යක්ෂ ගෝත්‍රික රජුගේ සොහොයුරියවේ. පියා වික්‍රමාදිත්‍ය කස්සප නම්විය. මානස ආදිත්‍ය, හිරණ්‍යක ඇගේ සෙසු සොහොයුරන්වේ. හිරණ්‍යක රජ වෙනුවෙන් දකුණු ඉංදියාව ජයගත් බව කියවේ. කණ්‍යා කුමරිය නමින් ප්‍රසිද්ධියට පත්වූ ඇය ගොඩබට ස්ථානය කණ්‍යාකුමාරි තුඩුව ලෙස හැදින්වෙන බවත් සතුරු නෞකාවලට පහරදී තූ තූ කර ජය කොඩි එසවූ ස්ථානයඅද තූත්තුකොඩි ලෙසින් හැදින්වෙන බවටත් අරිසෙන් අහුබුදු මහතා මත දක්වා ඇත. එකට වර්ණවත් ඇදුම් ඇදීමට අයිතිය පැවතියේ ඉහළ කුළවල අයට පමනි. ශුද්‍රයින් සුදු වස්ත්‍ර පමනක් ඇදිය යුතුවිය. හෝලිකා විසින් අල්ලා ගන්නා ලස පෙදෙස්වල වහල් මෙහෙය තහනම් කර එහි කුළවාදය නැති කිරීමට සියල්ලන්ටම සුදු වස්ත්‍ර පමනක් ඇදීමට නියෝග කර ඇත. ඇයද හිරණ්පයක රජු මෙන්සුම හිංදු දේව මැවුම්වාදයට විරුද්ධ වූ බව කියැවේ.

හිරණ්‍යකස්සප රජුගේ ඝාතනයෙන් පසු හෝලිකා විසින් ගෙනයනලද ඉංදු හෙළයේ යුද්ධයට මෙරටින් ආධාර උපකාර නැවතීන. අවසානයේ එක් යුද්ධයකදී පැරදුනු ලද ඇය සතුරන්ව අතට පත්ව පුළුස්සා ඝාතනය කර බව සදහන්ය.

මේය උත්සවාකාරයෙන් හිංදු ජනයා සමරනු ලැබේ. හෝලිකා දහාන් ලෙසින් දර සෑයක් හදා කාන්තා අනුරුවක් පුළුස්සාලයි. අනතුරුව හෝලි උත්සවය අරඹයි. කුඩු එකිනෙකාගේ සිරුරු වලට ඉසිමින් විනෝදවන්නේ හොලිකාගේ සුදුවස්ත්‍ර අඤ්ඤාව බිදීමට යැයි මතයක් ඇත. මෙම උත්සවයේ ආරම්භය හොලිකා දහානය කල අළු එකිනෙකාට ඉස ගැනීම යැයි මතයක්ද ඇත.

හෝලිකේ යනු බදුල්ල හා අම්මාර අතර කලාපයේ පවතින්නාවූ ගම්මානයකි. හෝලිකාගේ ජංමභූමිය මෙය යැයි මතයක්ද පවතී. මෙය ඉතාම පැරණි ගම්හිමමානයකි. ජනප්‍රවාද අනුව මහ යකිනි පිදිල්ලක් මේ ගම්මානය ඇසුරෙ හෙළ වැදි ජනයා අතර පැවත ඇත. මෙසේ මහ යකිනිය නමින් හැදින්වූයේ හෝලිකාවදැයි සැකයක් පවතී.

මූලාශ්‍රය-භාගාවත පුරාණය

